

# අ.පො.ස (සා.පෙළ) විභාගය - 2013

# ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2013

## ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.

# හැඳින්වීම

ශ්‍රී ලංකාවේ ප්‍රසිද්ධ විභාග අතුරින් වැඩි ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් පෙනී සිටින්නේ අ.පො.ස.(සා.පෙළ) විභාගය සඳහා ය. ජාතික මට්ටමින් පැවැත්වෙන මෙම විභාගයේ ප්‍රතිඵල මත නිකුත් කෙරෙන සහතිකය, උසස් අධ්‍යාපනය සඳහා සුදුස්සන් තෝරා ගැනීමට පමණක් නොව මධ්‍යම මට්ටමේ රැකියා අවස්ථා ලබාගැනීමට ද ජාතික හා ජාත්‍යන්තර විශ්වවිද්‍යාලවල සමහර පාඨමාලා හැදෑරීමට මූලික සුදුසුකමක් ලෙස සැලකෙන මිනුම් දණ්ඩක් වශයෙන් ද පිළිගැනේ. මෙලෙස පිළිගැනෙන්නේ මෙම විභාගයේ ඇති වලංගුතාව හා විශ්වසනීයතාව මෙන් ම ඉහළ ගුණාත්මක බව ද හේතුවෙනි.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද දැඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. මේ නිසා මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා පුස්තකාලයට යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව කොටස් තුනකින් යුක්ත වන අතර විෂය අභිමතාර්ථ සහ විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද මෙම විෂයයෙහි ප්‍රශ්න පත්‍ර ඇසුරෙන් අයදුම්කරුවන්ගේ සාධනය, එක් එක් ප්‍රශ්නය සඳහා වෙන් වෙන්ව ද මෙහි I කොටසෙහි ඇතුළත් වේ. ඇගයීම් හා පරීක්ෂණ ක්ෂේත්‍රයේ භාවිත වන සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) සහ අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) පදනම් කරගෙන, විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මඟින් මෙම විශ්ලේෂණ සිදුකර ඇත.

ඉතිහාසය විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍ර සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටි, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා ප්‍රතිපෝෂණය සඳහා වූ යෝජනාවලින් මෙම වාර්තාවෙහි II කොටස සමන්විත වේ.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

මෙම වාර්තාවේ ගුණාත්මක බව වැඩි දියුණු කිරීම සඳහා ඵලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස ඉල්ලමි. මෙම වාර්තාව සකස් කිරීම සඳහා කැප වූ පාලක පරීක්ෂකවරුන් ඇතුළු සම්පත් දායකයින්ටත් RD ආකෘති මඟින් තොරතුරු සැපයූ ප්‍රධාන/ අතිරේක ප්‍රධාන/ සහකාර පරීක්ෂකවරුන්ටත් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ඇතුළු කාර්ය මණ්ඩලයේ සියලු ම දෙනාටත් මාගේ හෘදයංගම ස්තුතිය පළ කරමි.

ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

2015 පෙබරවාරි 24
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

| | | |
|---|---|---|
| **උපදේශකත්වය** | : | ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර<br>විභාග කොමසාරිස් ජනරාල් |
| **මෙහෙයවීම හා සංවිධානය** | : | ගයාත්‍රි අබේගුණසේකර<br>විභාග කොමසාරිස්<br>(පර්යේෂණ හා සංවර්ධන) |
| **සම්බන්ධීකරණය** | : | ජේ.ඒ.ජේ.ආර්. ජයකොඩි<br>සහකාර විභාග කොමසාරිස් |
| **සංස්කරණය** | : | එස්.ඒ.සී. දිසානායක<br>ව්‍යාපෘති නිලධාරී (විශ්‍රාමික)<br>ජාතික අධ්‍යාපන ආයතනය<br>මහරගම<br><br>ආර්.ඒ. චන්ද්‍රසිරි<br>ගුරු උපදේශක<br>කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය<br>මරඳගහමුල<br><br>ආර්.පී. ලින්ටන් ධර්මදාස<br>ගුරු උපදේශක (විශ්‍රාමික)<br>නාත්තණ්ඩිය |
| **සැකසුම් කමිටුව** | : | කේ.වී.එස්. විජයමාලා<br>ගුරු උපදේශක<br>කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය<br>බියගම<br><br>ආර්.එම්.ඩබ්ලිව්. දිසානායක<br>ගුරු උපදේශක<br>ව/ම/ ගල්ගමුව කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය<br>ගල්ගමුව<br><br>බී.ඒ. චන්ද්‍රසිරි බමුණුසිංහ<br>ගුරු සේවය (විශ්‍රාමික)<br>ර/ ඇහැළියගොඩ මධ්‍ය මහා විද්‍යාලය<br>ඇහැළියගොඩ<br><br>පී.ඒ. ලක්ෂ්මි හේමලතා<br>ගුරු සේවය<br>බප/මීග/ සාන්ත සෙබස්තියන් බාලිකා මහා විද්‍යාලය<br>කඳාන<br><br>කේ.පී. ජයන්ති ප්‍රේමලතා<br>ගුරු සේවය<br>බප/හෝ/ සිරි සාරිපුත්ත මහා විද්‍යාලය<br>කොළඹ 02. |
| **පරිගණක පිටපත සැකසුම** | : | එම්.ඩබ්. පියුමි මධුෂාණී<br>දත්ත සටහන් ක්‍රියාකරු |

# ඇතුළත පිටු

පිටු අංකය

## I කොටස



## II කොටස



## III කොටස

## I කොටස

## 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

### 1.1 ඉතිහාසය විෂයයෙහි අභිමතාර්ථ

- ★ ඓතිහාසික විකාශය හා ප්‍රවණතා පිළිබඳ විමර්ශනයෙහි යෙදෙයි.
- ★ වර්තමානය තේරුම් ගැනීම සඳහා අතීතය පිළිබඳ විමර්ශනාත්මක දැනුම උපයෝගී කර ගනියි.
- ★ ජාතික ප්‍රශ්න දෙස තුලනාත්මක ව විමසා බලමින් කටයුතු කරයි.
- ★ වැදගත් ඓතිහාසික පුද්ගලයන්ගේ චරිතාපදාන ආදර්ශයට ගෙන කටයුතු කරයි.
- ★ ජාතික අනන්‍යතාව හඳුනාගෙන ඒවා අගය කරමින් චරිතායනය කරයි.
- ★ ඉතිහාසයේ අත්දැකීම් වර්තමාන සංසිද්ධි සඳහා ඵලදායි ලෙස භාවිත කරයි.
- ★ ශ්‍රී ලංකාවේ ඓතිහාසික වටිනාකම් හා හර පද්ධති පිළිබඳ අභිමානවත් හැඟුමින් යුක්තව කටයුතු කරයි.
- ★ විචාරශීලී හා විවේචනාත්මක චින්තන සංකල්ප වර්ධනය කර ගනියි.
- ★ ඓතිහාසික තොරතුරු ඇසුරින් ස්ථාන හඳුනාගැනීමේ හැකියාව දියුණු කරයි.

## 1.2 විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1 විෂය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 223193 | 6021 | 229214 |
| දෙමළ | 61718 | 12885 | 74603 |
| ඉංග්‍රීසි | 6125 | 3521 | 9646 |
| එකතුව | **291036** | **22427** | **313463** |

වගුව 1

### 1.2.2 අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 37029 | 12.72 | 476 | 2.12 | 37505 | 11.97 |
| B | 25693 | 8.83 | 548 | 2.44 | 26241 | 8.37 |
| C | 55521 | 19.08 | 2191 | 9.77 | 57712 | 18.41 |
| S | 80617 | 27.70 | 6904 | 30.79 | 87521 | 27.92 |
| W | 92176 | 31.67 | 12308 | 54.88 | 104484 | 33.33 |
| එකතුව | **291036** | **100.00** | **22427** | **100.00** | **313463** | **99.99** |

වගුව 2

1.2.3 ප්‍රථම වරට පෙනීසිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | අසමත් (F) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 30883 | 7455 | 24.14 | 3593 | 11.63 | 6100 | 19.75 | 6631 | 21.47 | 23779 | 77.00 | 7104 | 23.00 |
| 2. ගම්පහ | 25730 | 3933 | 15.29 | 2667 | 10.37 | 5380 | 20.91 | 6488 | 25.22 | 18468 | 71.78 | 7262 | 28.22 |
| 3. කළුතර | 14723 | 2583 | 17.54 | 1519 | 10.32 | 2908 | 19.75 | 3644 | 24.75 | 10654 | 72.36 | 4069 | 27.64 |
| 4. මහනුවර | 19012 | 2741 | 14.42 | 1778 | 9.35 | 3675 | 19.33 | 4863 | 25.58 | 13057 | 68.68 | 5955 | 31.32 |
| 5. මාතලේ | 6277 | 713 | 11.36 | 509 | 8.11 | 1172 | 18.67 | 1599 | 25.47 | 3993 | 63.61 | 2284 | 36.39 |
| 6. නුවරඑළිය | 9153 | 712 | 7.78 | 657 | 7.18 | 1771 | 19.35 | 2665 | 29.12 | 5805 | 63.42 | 3348 | 36.58 |
| 7. ගාල්ල | 14960 | 2175 | 14.54 | 1481 | 9.90 | 3031 | 20.26 | 3838 | 25.66 | 10525 | 70.35 | 4435 | 29.65 |
| 8. මාතර | 10735 | 1770 | 16.49 | 1116 | 10.40 | 2207 | 20.56 | 2683 | 24.99 | 7776 | 72.44 | 2959 | 27.56 |
| 9. හම්බන්තොට | 7981 | 1003 | 12.57 | 836 | 10.47 | 1643 | 20.59 | 2128 | 26.66 | 5610 | 70.29 | 2371 | 29.71 |
| 10. යාපනය | 8393 | 1063 | 12.67 | 717 | 8.54 | 1407 | 16.76 | 2100 | 25.02 | 5287 | 62.99 | 3106 | 37.01 |
| 11. කිලිනොච්චි | 1572 | 83 | 5.28 | 88 | 5.60 | 267 | 16.98 | 394 | 25.06 | 832 | 52.93 | 740 | 47.07 |
| 12. මන්නාරම | 1517 | 101 | 6.66 | 127 | 8.37 | 355 | 23.40 | 511 | 33.68 | 1094 | 72.12 | 423 | 27.88 |
| 13. වව්නියාව | 2478 | 197 | 7.95 | 182 | 7.34 | 460 | 18.56 | 709 | 28.61 | 1548 | 62.47 | 930 | 37.53 |
| 14. මුලතිව් | 1318 | 84 | 6.37 | 87 | 6.60 | 218 | 16.54 | 360 | 27.31 | 749 | 56.83 | 569 | 43.17 |
| 15. මඩකලපුව | 6574 | 804 | 12.23 | 560 | 8.52 | 1233 | 18.76 | 1863 | 28.34 | 4460 | 67.84 | 2114 | 32.16 |
| 16. අම්පාර | 8863 | 853 | 9.62 | 714 | 8.06 | 1815 | 20.48 | 2759 | 31.13 | 6141 | 69.29 | 2722 | 30.71 |
| 17. ත්‍රිකුණාමලය | 5086 | 448 | 8.81 | 414 | 8.14 | 887 | 17.44 | 1538 | 30.24 | 3287 | 64.63 | 1799 | 35.37 |
| 18. කුරුණෑගල | 21191 | 2882 | 13.60 | 2171 | 10.24 | 4751 | 22.42 | 5990 | 28.27 | 15794 | 74.53 | 5397 | 25.47 |
| 19. පුත්තලම | 9586 | 1036 | 10.81 | 904 | 9.43 | 2028 | 21.16 | 2766 | 28.85 | 6734 | 70.25 | 2852 | 29.75 |
| 20. අනුරාධපුරය | 11642 | 1212 | 10.41 | 1052 | 9.04 | 2433 | 20.90 | 3380 | 29.03 | 8077 | 69.38 | 3565 | 30.62 |
| 21. පොළොන්නරුව | 5085 | 452 | 8.89 | 433 | 8.52 | 1022 | 20.10 | 1438 | 28.28 | 3345 | 65.78 | 1740 | 34.22 |
| 22. බදුල්ල | 11915 | 1209 | 10.15 | 1063 | 8.92 | 2468 | 20.71 | 3484 | 29.24 | 8224 | 69.02 | 3691 | 30.98 |
| 23. මොනරාගල | 6084 | 483 | 7.94 | 459 | 7.54 | 1109 | 18.23 | 1657 | 27.24 | 3708 | 60.95 | 2376 | 39.05 |
| 24. රත්නපුරය | 13356 | 1702 | 12.74 | 1254 | 9.39 | 2639 | 19.76 | 3555 | 26.62 | 9150 | 68.51 | 4206 | 31.49 |
| 25. කෑගල්ල | 10592 | 1268 | 11.97 | 1046 | 9.88 | 2268 | 21.41 | 3006 | 28.38 | 7588 | 71.64 | 3004 | 28.36 |
| **සමස්ත දිවයින** | **264706** | **36962** | **13.96** | **25427** | **9.61** | **53247** | **20.12** | **70049** | **26.46** | **185685** | **70.14** | **79021** | **29.85** |

වගුව 3

## 1.2.4 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - අධ්‍යාපන කලාප අනුව

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 14449 | 4623 | 32.00 | 1695 | 11.73 | 2657 | 18.39 | 2620 | 18.13 | 11595 | 80.25 | 2854 | 19.75 |
| 2. හෝමාගම | 3700 | 394 | 10.65 | 380 | 10.27 | 733 | 19.81 | 945 | 25.54 | 2452 | 66.27 | 1248 | 33.73 |
| 3. ශ්‍රී ජයවර්ධනපුර | 7116 | 1413 | 19.86 | 851 | 11.96 | 1500 | 21.08 | 1706 | 23.97 | 5470 | 76.87 | 1646 | 23.13 |
| 4. පිළියන්දල | 5618 | 1025 | 18.24 | 667 | 11.87 | 1210 | 21.54 | 1360 | 24.21 | 4262 | 75.86 | 1356 | 24.14 |
| 5. ගම්පහ | 7324 | 1680 | 22.94 | 847 | 11.56 | 1467 | 20.03 | 1676 | 22.88 | 5670 | 77.42 | 1654 | 22.58 |
| 6 මිනුවන්ගොඩ | 4674 | 461 | 9.86 | 435 | 9.31 | 1049 | 22.44 | 1229 | 26.29 | 3174 | 67.91 | 1500 | 32.09 |
| 7. මීගමුව | 6879 | 911 | 13.24 | 657 | 9.55 | 1421 | 20.66 | 1826 | 26.54 | 4815 | 70.00 | 2064 | 30.00 |
| 8. කැලණිය | 6853 | 881 | 12.86 | 728 | 10.62 | 1443 | 21.06 | 1757 | 25.64 | 4809 | 70.17 | 2044 | 29.83 |
| 9. කළුතර | 7332 | 1209 | 16.49 | 799 | 10.90 | 1501 | 20.47 | 1842 | 25.12 | 5351 | 72.98 | 1981 | 27.02 |
| 10. මතුගම | 3068 | 539 | 17.57 | 303 | 9.88 | 606 | 19.75 | 762 | 24.84 | 2210 | 72.03 | 858 | 27.97 |
| 11. හොරණ | 4323 | 835 | 19.32 | 417 | 9.65 | 801 | 18.53 | 1040 | 24.06 | 3093 | 71.55 | 1230 | 28.45 |
| 12. මහනුවර | 6994 | 1963 | 28.07 | 896 | 12.81 | 1447 | 20.69 | 1446 | 20.67 | 5752 | 82.24 | 1242 | 17.76 |
| 13. දෙනුවර | 1909 | 106 | 5.55 | 109 | 5.71 | 343 | 17.97 | 544 | 28.50 | 1102 | 57.73 | 807 | 42.27 |
| 14. ගම්පොල | 3104 | 222 | 7.15 | 221 | 7.12 | 508 | 16.37 | 828 | 26.68 | 1779 | 57.31 | 1325 | 42.69 |
| 15. තෙල්දෙණිය | 1650 | 72 | 4.36 | 95 | 5.76 | 280 | 16.97 | 457 | 27.70 | 904 | 54.79 | 746 | 45.21 |
| 16. වත්තේගම | 2440 | 153 | 6.27 | 199 | 8.16 | 502 | 20.57 | 728 | 29.84 | 1582 | 64.84 | 858 | 35.16 |
| 17. කටුගස්තොට | 2915 | 225 | 7.72 | 258 | 8.85 | 595 | 20.41 | 860 | 29.50 | 1938 | 66.48 | 977 | 33.52 |
| 18. මාතලේ | 3361 | 592 | 17.61 | 336 | 10.00 | 671 | 19.96 | 820 | 24.40 | 2419 | 71.97 | 942 | 28.03 |
| 19. ගලේවෙල | 1964 | 87 | 4.43 | 118 | 6.01 | 307 | 15.63 | 542 | 27.60 | 1054 | 53.67 | 910 | 46.33 |
| 20. නාඋල | 441 | 14 | 3.17 | 29 | 6.58 | 92 | 20.86 | 124 | 28.12 | 259 | 58.73 | 182 | 41.27 |
| 21. විල්ගමුව | 511 | 20 | 3.91 | 26 | 5.09 | 102 | 19.96 | 113 | 22.11 | 261 | 51.08 | 250 | 48.92 |
| 22. නුවරඑළිය | 2527 | 161 | 6.37 | 145 | 5.74 | 486 | 19.23 | 823 | 32.57 | 1615 | 63.91 | 912 | 36.09 |
| 23. කොත්මලේ | 1260 | 111 | 8.81 | 105 | 8.33 | 267 | 21.19 | 348 | 27.62 | 831 | 65.95 | 429 | 34.05 |
| 24. හැටන් | 2544 | 178 | 7.00 | 193 | 7.59 | 471 | 18.51 | 740 | 29.09 | 1582 | 62.19 | 962 | 37.81 |
| 25. වලපනේ | 1200 | 55 | 4.58 | 82 | 6.83 | 253 | 21.08 | 353 | 29.42 | 743 | 61.92 | 457 | 38.08 |
| 26. හඟුරන්කෙත | 1622 | 207 | 12.76 | 132 | 8.14 | 294 | 18.13 | 401 | 24.72 | 1034 | 63.75 | 588 | 36.25 |
| 27. ගාල්ල | 6951 | 1393 | 20.04 | 778 | 11.19 | 1486 | 21.38 | 1621 | 23.32 | 5278 | 75.93 | 1673 | 24.07 |
| 28. ඇල්පිටිය | 2946 | 219 | 7.43 | 243 | 8.25 | 589 | 19.99 | 806 | 27.36 | 1857 | 63.03 | 1089 | 36.97 |
| 29. අම්බලන්ගොඩ | 3353 | 429 | 12.79 | 329 | 9.81 | 609 | 18.16 | 927 | 27.65 | 2294 | 68.42 | 1059 | 31.58 |
| 30. උඩුගම | 1710 | 134 | 7.84 | 131 | 7.66 | 347 | 20.29 | 484 | 28.30 | 1096 | 64.09 | 614 | 35.91 |
| 31. මාතර | 4877 | 1155 | 23.68 | 593 | 12.16 | 997 | 20.44 | 1085 | 22.25 | 3830 | 78.53 | 1047 | 21.47 |
| 32. අකුරැස්ස | 1823 | 274 | 15.03 | 214 | 11.74 | 372 | 20.41 | 472 | 25.89 | 1332 | 73.07 | 491 | 26.93 |
| 33. මුලටියන-හක්මණ | 1876 | 196 | 10.45 | 174 | 9.28 | 463 | 24.68 | 504 | 26.87 | 1337 | 71.27 | 539 | 28.73 |
| 34. මොරවක-දෙනියාය | 2159 | 145 | 6.72 | 135 | 6.25 | 375 | 17.37 | 622 | 28.81 | 1277 | 59.15 | 882 | 40.85 |
| 35. තංගල්ල | 2202 | 242 | 10.99 | 273 | 12.40 | 473 | 21.48 | 588 | 26.70 | 1576 | 71.57 | 626 | 28.43 |
| 36. හම්බන්තොට | 3439 | 314 | 9.13 | 300 | 8.72 | 637 | 18.52 | 969 | 28.18 | 2220 | 64.55 | 1219 | 35.45 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 37. වලස්මුල්ල | 2340 | 447 | 19.10 | 263 | 11.24 | 533 | 22.78 | 571 | 24.40 | 1814 | 77.52 | 526 | 22.48 |
| 38. යාපනය | 3217 | 575 | 17.87 | 339 | 10.54 | 594 | 18.46 | 786 | 24.43 | 2294 | 71.31 | 923 | 28.69 |
| 39. දූපත් | 493 | 21 | 4.26 | 21 | 4.26 | 46 | 9.33 | 121 | 24.54 | 209 | 42.39 | 284 | 57.61 |
| 40. තෙන්මාරච්චි | 886 | 80 | 9.03 | 70 | 7.90 | 144 | 16.25 | 229 | 25.85 | 523 | 59.03 | 363 | 40.97 |
| 41. වලිකාමන් | 2346 | 158 | 6.73 | 148 | 6.31 | 325 | 13.85 | 642 | 27.37 | 1273 | 54.26 | 1073 | 45.74 |
| 42. වඩමරච්චි | 1451 | 229 | 15.78 | 139 | 9.58 | 298 | 20.54 | 322 | 22.19 | 988 | 68.09 | 463 | 31.91 |
| 43. කිලිනොච්චි | 1572 | 83 | 5.28 | 88 | 5.60 | 267 | 16.98 | 394 | 25.06 | 832 | 52.93 | 740 | 47.07 |
| 44. මන්නාරම | 1246 | 96 | 7.70 | 113 | 9.07 | 306 | 24.56 | 408 | 32.74 | 923 | 74.08 | 323 | 25.92 |
| 45. මඩු | 271 | 5 | 1.85 | 14 | 5.17 | 49 | 18.08 | 103 | 38.01 | 171 | 63.10 | 100 | 36.90 |
| 46. වව්නියාව දකුණ | 2010 | 184 | 9.15 | 163 | 8.11 | 399 | 19.85 | 584 | 29.05 | 1330 | 66.17 | 680 | 33.83 |
| 47. වව්නියාව උතුර | 468 | 13 | 2.78 | 19 | 4.06 | 61 | 13.03 | 125 | 26.71 | 218 | 46.58 | 250 | 53.42 |
| 48. මුලතිව් | 912 | 67 | 7.35 | 67 | 7.35 | 157 | 17.21 | 223 | 24.45 | 514 | 56.36 | 398 | 43.64 |
| 49. තුනුක්කායි | 406 | 17 | 4.19 | 20 | 4.93 | 61 | 15.02 | 137 | 33.74 | 235 | 57.88 | 171 | 42.12 |
| 50. මඩකලපුව | 2187 | 319 | 14.59 | 196 | 8.96 | 356 | 16.28 | 602 | 27.53 | 1473 | 67.35 | 714 | 32.65 |
| 51. කල්කුඩා | 1084 | 47 | 4.34 | 56 | 5.17 | 155 | 14.30 | 305 | 28.14 | 563 | 51.94 | 521 | 48.06 |
| 52. පදිරිප්පු | 1269 | 118 | 9.30 | 82 | 6.46 | 252 | 19.86 | 376 | 29.63 | 828 | 65.25 | 441 | 34.75 |
| 53. මඩකලපුව (මධ්‍යම) | 1284 | 302 | 23.52 | 189 | 14.72 | 348 | 27.10 | 348 | 27.10 | 1187 | 92.45 | 97 | 7.55 |
| 54. මඩකලපුව (බටහිර) | 750 | 18 | 2.40 | 37 | 4.93 | 122 | 16.27 | 232 | 30.93 | 409 | 54.53 | 341 | 45.47 |
| 55. අම්පාර | 2249 | 206 | 9.16 | 225 | 10.00 | 480 | 21.34 | 650 | 28.90 | 1561 | 69.41 | 688 | 30.59 |
| 56. කල්මුනේ | 2136 | 329 | 15.40 | 209 | 9.78 | 458 | 21.44 | 609 | 28.51 | 1605 | 75.14 | 531 | 24.86 |
| 57. සමන්තුරෙයි | 1176 | 105 | 8.93 | 75 | 6.38 | 256 | 21.77 | 355 | 30.19 | 791 | 67.26 | 385 | 32.74 |
| 58. මහඔය | 510 | 24 | 4.71 | 22 | 4.31 | 75 | 14.71 | 158 | 30.98 | 279 | 54.71 | 231 | 45.29 |
| 59. දෙහිඅත්තකණ්ඩිය | 1009 | 45 | 4.46 | 60 | 5.95 | 173 | 17.15 | 346 | 34.29 | 624 | 61.84 | 385 | 38.16 |
| 60. අක්කරෙයිපත්තුව | 993 | 90 | 9.06 | 71 | 7.15 | 222 | 22.36 | 368 | 37.06 | 751 | 75.63 | 242 | 24.37 |
| 61. තිරුක්කෝවිල් | 790 | 54 | 6.84 | 52 | 6.58 | 151 | 19.11 | 273 | 34.56 | 530 | 67.09 | 260 | 32.91 |
| 62. ත්‍රිකුණාමලය | 1757 | 249 | 14.17 | 196 | 11.16 | 307 | 17.47 | 478 | 27.21 | 1230 | 70.01 | 527 | 29.99 |
| 63. මුතූර් | 1011 | 69 | 6.82 | 62 | 6.13 | 166 | 16.42 | 324 | 32.05 | 621 | 61.42 | 390 | 38.58 |
| 64. කන්තලේ | 827 | 48 | 5.80 | 52 | 6.29 | 134 | 16.20 | 234 | 28.30 | 468 | 56.59 | 359 | 43.41 |
| 65. කින්නියා | 941 | 62 | 6.59 | 79 | 8.40 | 202 | 21.47 | 333 | 35.39 | 676 | 71.84 | 265 | 28.16 |
| 66. ත්‍රිකුණාමලය (උතුර) | 550 | 20 | 3.64 | 25 | 4.55 | 78 | 14.18 | 169 | 30.73 | 292 | 53.09 | 258 | 46.91 |
| 67. කුරුණෑගල | 5369 | 1158 | 21.57 | 636 | 11.85 | 1178 | 21.94 | 1263 | 23.52 | 4235 | 78.88 | 1134 | 21.12 |
| 68. කුලියාපිටිය | 3644 | 466 | 12.79 | 373 | 10.24 | 818 | 22.45 | 1073 | 29.45 | 2730 | 74.92 | 914 | 25.08 |
| 69. නිකවැරටිය | 2595 | 313 | 12.06 | 279 | 10.75 | 630 | 24.28 | 786 | 30.29 | 2008 | 77.38 | 587 | 22.62 |
| 70. මහව | 3341 | 270 | 8.08 | 277 | 8.29 | 705 | 21.10 | 1060 | 31.73 | 2312 | 69.20 | 1029 | 30.80 |
| 71. ගිරිඋල්ල | 3622 | 384 | 10.60 | 332 | 9.17 | 848 | 23.41 | 1055 | 29.13 | 2619 | 72.31 | 1003 | 27.69 |
| 72. ඉබ්බාගමුව | 2620 | 291 | 11.11 | 274 | 10.46 | 572 | 21.83 | 753 | 28.74 | 1890 | 72.14 | 730 | 27.86 |
| 73. පුත්තලම | 4535 | 309 | 6.81 | 325 | 7.17 | 844 | 18.61 | 1348 | 29.72 | 2826 | 62.32 | 1709 | 37.68 |
| 74. හලාවත | 5051 | 727 | 14.39 | 579 | 11.46 | 1184 | 23.44 | 1418 | 28.07 | 3908 | 77.37 | 1143 | 22.63 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 75. අනුරාධපුරය | 4188 | 700 | 16.71 | 436 | 10.41 | 866 | 20.68 | 1042 | 24.88 | 3044 | 72.68 | 1144 | 27.32 |
| 76. තඹුත්තේගම | 2059 | 131 | 6.36 | 171 | 8.31 | 462 | 22.44 | 705 | 34.24 | 1469 | 71.35 | 590 | 28.65 |
| 77. කැකිරාව | 2283 | 203 | 8.89 | 208 | 9.11 | 427 | 18.70 | 659 | 28.87 | 1497 | 65.57 | 786 | 34.43 |
| 78. ගලෙන්බිඳුනුවැව | 1491 | 86 | 5.77 | 97 | 6.51 | 321 | 21.53 | 492 | 33.00 | 996 | 66.80 | 495 | 33.20 |
| 79. කැබිතිගොල්ලෑව | 1621 | 92 | 5.68 | 140 | 8.64 | 357 | 22.02 | 482 | 29.73 | 1071 | 66.07 | 550 | 33.93 |
| 80. පොළොන්නරුව | 1615 | 219 | 13.56 | 175 | 10.84 | 351 | 21.73 | 420 | 26.01 | 1165 | 72.14 | 450 | 27.86 |
| 81. හිඟුරක්ගොඩ | 2073 | 181 | 8.73 | 160 | 7.72 | 384 | 18.52 | 551 | 26.58 | 1276 | 61.55 | 797 | 38.45 |
| 82. දිඹුලාගල | 1397 | 52 | 3.72 | 98 | 7.02 | 287 | 20.54 | 467 | 33.43 | 904 | 64.71 | 493 | 35.29 |
| 83. බදුල්ල | 3368 | 391 | 11.61 | 271 | 8.05 | 678 | 20.13 | 988 | 29.33 | 2328 | 69.12 | 1040 | 30.88 |
| 84. බණ්ඩාරවෙල | 3094 | 471 | 15.22 | 360 | 11.64 | 660 | 21.33 | 839 | 27.12 | 2330 | 75.31 | 764 | 24.69 |
| 85. මහියංගනය | 1899 | 111 | 5.85 | 127 | 6.69 | 303 | 15.96 | 562 | 29.59 | 1103 | 58.08 | 796 | 41.92 |
| 86. වැලිමඩ | 2539 | 182 | 7.17 | 234 | 9.22 | 631 | 24.85 | 774 | 30.48 | 1821 | 71.72 | 718 | 28.28 |
| 87. පස්සර | 1015 | 54 | 5.32 | 71 | 7.00 | 196 | 19.31 | 321 | 31.63 | 642 | 63.25 | 373 | 36.75 |
| 88. මොනරාගල | 1995 | 181 | 9.07 | 149 | 7.47 | 337 | 16.89 | 522 | 26.17 | 1189 | 59.60 | 806 | 40.40 |
| 89. වැල්ලවාය | 2666 | 177 | 6.64 | 180 | 6.75 | 477 | 17.89 | 770 | 28.88 | 1604 | 60.17 | 1062 | 39.83 |
| 90. බිබිල | 1423 | 125 | 8.78 | 130 | 9.14 | 295 | 20.73 | 365 | 25.65 | 915 | 64.30 | 508 | 35.70 |
| 91. රත්නපුර | 5539 | 920 | 16.61 | 574 | 10.36 | 1028 | 18.56 | 1369 | 24.72 | 3891 | 70.25 | 1648 | 29.75 |
| 92. බළන්ගොඩ | 2518 | 330 | 13.11 | 255 | 10.13 | 527 | 20.93 | 634 | 25.18 | 1746 | 69.34 | 772 | 30.66 |
| 93. නිවිතිගල | 2108 | 157 | 7.45 | 155 | 7.35 | 468 | 22.20 | 642 | 30.46 | 1422 | 67.46 | 686 | 32.54 |
| 94. ඇඹිලිපිටිය | 3191 | 295 | 9.24 | 270 | 8.46 | 616 | 19.30 | 910 | 28.52 | 2091 | 65.53 | 1100 | 34.47 |
| 95. කෑගල්ල | 4082 | 643 | 15.75 | 474 | 11.61 | 839 | 20.55 | 1128 | 27.63 | 3084 | 75.55 | 998 | 24.45 |
| 96. මාවනැල්ල | 3453 | 398 | 11.53 | 326 | 9.44 | 763 | 22.10 | 922 | 26.70 | 2409 | 69.77 | 1044 | 30.23 |
| 97. දෙහිඕවිට | 3055 | 227 | 7.43 | 246 | 8.05 | 666 | 21.80 | 956 | 31.29 | 2095 | 68.58 | 960 | 31.42 |
| 98. පිරිවෙන් | 2 | 0 | 0.00 | 0 | 0.00 | 0 | 0.00 | 0 | 0.00 | 0 | 0.00 | 2 | 100.00 |
| **සමස්ත දිවයින** | 264706 | 36962 | 13.96 | 25427 | 9.61 | 53247 | 20.12 | 70049 | 26.46 | 185685 | 70.15 | 79021 | 29.85 |

වගුව 4

1.2.5 ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91-100 | 3229 | 1.03 | 313463 | 100.00 |
| 81-90 | 14728 | 4.70 | 310234 | 98.97 |
| 71-80 | 22430 | 7.16 | 295506 | 94.27 |
| 61-70 | 28498 | 9.09 | 273076 | 87.12 |
| 51-60 | 39511 | 12.60 | 244578 | 78.02 |
| 41-50 | 49162 | 15.68 | 205067 | 65.42 |
| 31-40 | 64184 | 20.48 | 155905 | 49.74 |
| 21-30 | 61942 | 19.76 | 91721 | 29.26 |
| 11-20 | 28227 | 9.00 | 29779 | 9.50 |
| 01-10 | 1545 | 0.49 | 1552 | 0.50 |
| 00-00 | 7 | 0.00 | 7 | 0.00 |

වගුව 4

ඉහත වගුවෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : (31 - 40 පන්ති ප්‍රාන්තරය ගතහොත්)

මෙම විෂයය සඳහා පෙනී සිටි 313463 දෙනා අතුරෙන්, 31 - 40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ඇති සංඛ්‍යාව 64184කි. එය ප්‍රතිශතයක් වශයෙන් 19.76% කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 155905ක් වන අතර එය ප්‍රතිශතයක් වශයෙන් 49.74%කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1 I ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 1 (RD/16/05/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : මෙම ප්‍රශ්න පත්‍රයේ අයදුම්කරුවන් වැඩිම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 24 වන ප්‍රශ්නයටය. එහි ප්‍රතිශතය 85%කි. එමෙන්ම අයදුම්කරුවන් අඩුම සංඛ්‍යාවක් නිවැරදිව පිළිතුරු සපයා ඇත්තේ 21 වන ප්‍රශ්නයටය. එහි ප්‍රතිශතය 27%කි.

### 1.3.2 II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 2 (RD/16/02/AL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබාගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 වන ප්‍රශ්නය අනිවාර්ය වුව ද සුළු පිරිසක් එය තෝරාගෙන නැත. එයට පිළිතුරු සපයා ඇති ප්‍රතිශතය 99% කි. අඩුම ප්‍රතිශතයක් තෝරාගෙන ඇත්තේ 10 වන ප්‍රශ්නයයි. එම ප්‍රතිශතය 34%කි.

### 1.3.3. II ප්‍රශ්න පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 3 (RD/16/02/AL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබාගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා: මෙහි 01 ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 30කි. මෙම ප්‍රස්තාරයට අනුව එම ලකුණුවලින් 23-30 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 10%ක් වේ. 16-22 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 22%ක් වේ. 8-15 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 41%ක් වේ. 0-7 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 26%ක් වේ.

1.3.4 **II ප්‍රශ්න පත්‍රය සඳහා සාධනය**




ප්‍රස්තාරය 4.1 (RD/16/04/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : 1 ප්‍රශ්නයෙහි (ආ) (ii) 2 අනුකොටසෙහි පහසුතාව 86%ක් වන අතර එම ප්‍රශ්නයේ (ආ) (iii) 4 අනුකොටසේ පහසුතාව 17%ක් පමණ වේ.



අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2013
33 - ඉතිහාසය
II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය
1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0
II කොටසේ ප්‍රශ්න කොටසේ හා අනුකොටසේ (ලංකා ඉතිහාසය)


ප්‍රස්තාරය 4.2


අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2013
33 - ඉතිහාසය
II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසේ පහසුතා දර්ශකය
පහසුතා දර්ශකය
1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0
III කොටසේ ප්‍රශ්න කොටස් හා අනුකොටස් (ලෝක ඉතිහාසය)
7
8
9
10
ප්‍රස්තාරය 4.3

# II කොටස

## 2. ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1 I ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

#### 2.1.1. I ප්‍රශ්න පත්‍රයේ ව්‍යුහය

**කාලය පැය 01යි. මුළු ලකුණු 40කි.**

- ⋆ වරණ හතරක් සහිත බහුවරණ ප්‍රශ්න 40කින් සමන්විත වේ. එම එක් එක් ප්‍රශ්නයට දී ඇති (1), (2), (3), (4) වරණවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ වරණය තේරීම අපේක්ෂා කෙරේ.
- ⋆ සම්පූර්ණ විෂය නිර්දේශයම ආවරණය වන පරිදි ප්‍රශ්න සකස් කර ඇත.
- ⋆ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සැපයිය යුතුය.

## 2.1.2. I ප්‍රශ්න පත්‍රය

1. විවිධ බාහිර බලපෑම්වලට ලක්වූව ද, ශ්‍රී ලංකාවට ආවේණික වූ සමාජ සංස්කෘතික රටාවක් බිහිවීම කෙරෙහි බල පෑ සාධකය වන්නේ
   (1) දූපතක් ලෙස පිහිටීම ය. (2) ඉන්දියාවට ආසන්නව පිහිටීම ය.
   (3) ඉන්දියන් සාගරයේ මධ්‍යගතව පිහිටීම ය. (4) පෙර-අපර දෙදිග නාවුක මාර්ගයේ පිහිටීම ය.

2. කුරුවිට බටදෙඹලෙන, බුලත්සිංහල පාහියන්ගල ලෙන, කිතුල්ගල බෙලිලෙන යන ස්ථාන ලංකා ඉතිහාසය ගොඩ නැංවීමේ දී වැදගත් වනුයේ, ඒවා
   (1) අනුරාධපුර යුගයේ ආරක්ෂිත ස්ථාන ලෙස භාවිත වීම නිසා ය.
   (2) බ්‍රාහ්මී අක්ෂර සහිත සෙල්ලිපි හමු වූ ස්ථාන නිසා ය.
   (3) ප්‍රාග් ඓතිහාසික මානවයා පිළිබඳ තොරතුරු ලැබෙන නිසා ය.
   (4) පැරණි සංඝාවාස පිළිබඳ තොරතුරු ලැබෙන නිසා ය.

3. ශ්‍රී ලංකාවට පැමිණි ආර්යයන් ජනාවාසකරණය සඳහා යොද ගත් කප්පකන්දර නදී, ගාල්හ නදී, ගෝණ නදී යන ගංගාවල නූතන නම් පිළිවෙළින් දක්වෙනුයේ කවර පිළිතුරෙහි ද?
   (1) කලා ඔය, ගල් ඔය, යාන් ඔය (2) මී ඔය, දැදුරු ඔය, කලා ඔය
   (3) කලා ඔය, ගල් ඔය, මැණික් ගඟ (4) මැණික් ගඟ, ගල් ඔය, කලා ඔය

4. ශ්‍රී ලංකාවේ ජලාශ්‍රිත ශිෂ්ටාචාර සමයේ ජනාවාසවල ව්‍යාප්තිය පිළිබඳව දැන ගැනීමට ඇති හොඳම සාක්ෂිය ලෙස දක්විය හැක්කේ
   (1) පැරණි රාජධානිවල අගනුවරවල පිහිටීමයි. (2) වැව් හා ඇළ මාර්ගවල ව්‍යාප්තියයි.
   (3) මහාවංශයෙහි සඳහන් ඓතිහාසික තොරතුරුයි. (4) ශ්‍රී ලංකාවේ පැරණි මාර්ගවල විහිදීමයි.

5. A - අනුරාධපුරයෙහි ජය ශ්‍රී මහා බෝධි රෝපණය
   B - කලා වැවේ සිට තිසා වැව දක්වා ජලය ගෙනයාමට ජය ගඟ තැනවීම
   C - දන්ත හේමමාලා යුවල දන්තධාතූන් වහන්සේ ලංකාවට රැගෙන ඒම
   D - තෝපා වැව, දුම්රුටුලු වැව හා එරමුදු වැව ඒකාබද්ධ කොට විශාල ජලාශයක් කරවීම

   ඉහත ABC හා D වල සඳහන් කාර්යයන් සඳහා මුල් වූ රජවරුන්ගේ නම් අනුපිළිවෙළින් දක්වන්න.
   (1) කිත්සිරිමෙවන්, දේවානම්පියතිස්ස, වසභ, පළමුවන විජයබාහු
   (2) දේවානම්පියතිස්ස, ධාතුසේන, කිත්සිරිමෙවන්, පළමුවන පරාක්‍රමබාහු
   (3) වළගම්බා, දේවානම්පියතිස්ස, ධාතුසේන, පළමුවන පරාක්‍රමබාහු
   (4) දේවානම්පියතිස්ස, වසභ, මහසෙන්, පළමුවන විජයබාහු

6.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) නාච්චදූව වැව | A - දැදුරු ඔය |
| (ii) මිනිපේ ඇළ | B - මී ඔය |
| (iii) හුරුළු වැව | C - මහවැලි ගඟ |
| (iv) රිදී බැදි ඇළ | D - මල්වතු ඔය |
| | E - මෝදරගම් ආරු |
| | F - යාන් ඔය |

   ඉහත I තීරුවේ ශ්‍රී ලංකාවේ විශිෂ්ට වාරි නිර්මාණ කිහිපයක් ද, II තීරුවේ ඒවා හා සම්බන්ධ ගංගා කිහිපයක් ද දක්වා ඇත. I තීරුව අනුව II තීරුව සැකසූ විට ගැළපෙන පිළිතුර තෝරන්න.
   (1) DCFA (2) ECFA (3) ACDF (4) DBCA

7 A - අභයගිරි විහාරය ඉදිකිරීම
   B - නිශ්ශංක අලගක්කෝනාර විසින් කෝට්ටේ බලකොටුවක් ගොඩ නැගීම
   C - පළමුවන රාජේන්ද්‍ර චෝල රජු ලංකාව ආක්‍රමණය කිරීම
   D - ගල් පොත ශිලා ලේඛනය පිහිටුවීම

   ඉහත දක්වෙන ඓතිහාසික සිද්ධීන්, ඒවා සිදු වූ අනුපිළිවෙළ අනුව සැකසූ විට දක්වෙන නිවැරදි පිළිතුර තෝරන්න.
   (1) ACDB (2) ABDC (3) CADB (4) ADCB

8. ඇළමාර්ග මගින් දිගු දුරකට ජලය ගෙනයාම සඳහා අතීත මෙන් ම වර්තමාන වාරි තාක්ෂණ ශිල්පීන් ද පාදක කර ගත් ගංගාව වනුයේ
   (1) මැණික් ගඟ ය. (2) ගල්ඔය ය. (3) මහවැලි ගඟ ය. (4) වලවේ ගඟ ය.

9. යාපනය ප්‍රාදේශීය රාජ්‍යය සම්බන්ධයෙන් **නොගැළපෙන** ප්‍රකාශය කුමක් ද?
(1) යාපනය ප්‍රාදේශීය රාජ්‍යයේ අගනුවර නල්ලූර් වූ අතර එහි ප්‍රධාන ආගමික සිද්ධස්ථානයක් පිහිටා ඇත.
(2) වසභ රජතුමාගේ කාලයේ දී 'ඉසිගිරි' නමැති ඇමතිවරයකු යාපනය පාලනය කළේ ය.
(3) කන්දරෝඩෙයි හෙවත් කදුරුගොඩ විහාරය අතීතයේ යාපනයේ පිහිටි බෞද්ධ මධ්‍යස්ථානයකි.
(4) පෘතුගීසීහු මුතු ලබා ගැනීම සඳහා යාපනය අල්ලා ගැනීමට උනන්දුවක් දැක්වූහ.

10. ශ්‍රී ලංකාවේ ජලාශ්‍රිත ශිෂ්ටාචාර සමයේ වෙළෙඳපොළක නීති රීති හා සම්ප්‍රදායයන් ගැන සඳහන් වන්නේ
(1) බදුලු ටැම් ලිපියේ ය.
(2) මිහින්තලා පුවරු ලිපියේ ය.
(3) කළුදිය පොකුණ සෙල් ලිපියේ ය.
(4) සංඝපාල විහාර සෙල් ලිපියේ ය.

11. පළමුවන විජයබාහු රජතුමා ශ්‍රී ලංකාවේ බිහි වූ ශ්‍රේෂ්ඨතම පාලකයා ලෙස සැලකිය හැක්කේ
(1) අභාවයට ගොස් තිබූ ආගමික ස්ථාන ප්‍රතිසංස්කරණය කොට නඩත්තු කිරීම නිසා ය.
(2) බලවත් සොළී පාලනයෙන් රජරට ප්‍රදේශය නිදහස් කරගෙන ස්වාධීන රාජ්‍යයක් බිහි කිරීම නිසා ය.
(3) අසල්වැසි ඉන්දියානු රාජ්‍යය සමග මිත්‍රශීලී ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම නිසා ය.
(4) මේ වන විට අක්‍රිය ව තිබූ බොහෝ වාරිමාර්ග ප්‍රතිසංස්කරණය කිරීම නිසා ය.

12. ගලින් නෙලන ලද සිංහයකු සිංහාසනය ලෙස භාවිත කළ පොළොන්නරු පාලකයා වන්නේ,
(1) පළමුවන විජයබාහු රජු ය.
(2) දෙවන ගජබාහු රජු ය.
(3) පළමුවන පරාක්‍රමබාහු රජු ය.
(4) කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල රජු ය.

13. අපගේ ඉතිහාසය හා බැඳුණු ජාතික උරුමයන් රැක ගැනීම සියල්ලන්ගේ ම අවධානයට යොමු විය යුතු කරුණක් වන්නේ
(1) ඒවා ශ්‍රී ලාංකික අනන්‍යතාව ප්‍රදර්ශනය කරනු ලබන සාධක වන නිසා ය.
(2) සංචාරක කර්මාන්තයේ ප්‍රවර්ධනයට එවැනි දේ වැදගත් වන නිසා ය.
(3) අපගේ අනාගත පරපුරට මෙවැනි දෑ දැක බලා ගැනීමට හැකිවන නිසා ය.
(4) ඒවා රැක ගැනීමෙන් පැරණි රජදරුවන්ගේ කටයුතු පිළිබඳ ව අවබෝධයක් ලබා ගත හැකිවන නිසා ය.

14. පහත දැක්වෙන ඓතිහාසික සිදුවීම් අතුරෙන් දඹදෙණි රාජ්‍ය සමයේ ලංකාවට පැමිණි ගවේෂකයකුට අසන්නට හෝ දකින්නට **නොලැබෙන** සිදුවීම් මොනවා ද?
A - ජාතක කථා පොත සිංහලයට පරිවර්තනය කිරීම
B - පළමුවන පරාක්‍රමබාහු රජු හා දෙවන ගජබාහු රජු අතර ඇති වූ සමගි සම්මුතිය
C - චීනයේ වෙංහෝ සෙන්පතියා ලංකාව ආක්‍රමණය කිරීම
D - මහා විහාර සීමාව තුළ ජේතවන විහාරය ඉදිකිරීම
E - කාලිංග මාඝ ලංකාව ආක්‍රමණය කිරීම
(1) A හා C (2) A හා B (3) C හා E (4) C හා D

15. ක්‍රි.ව. 1638 හා ක්‍රි.ව. 1766 ගිවිසුම් සම්බන්ධ නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) ලාංකික රජකු නොමැතිව ලංකාව තුළ අත්සන් කළ ගිවිසුම් වේ.
(2) උඩරට රජුන් පෘතුගීසින් සමග අත්සන් කළ ගිවිසුම් වේ.
(3) ලන්දේසීන් සමග උඩරට රජවරුන් අත්සන් කළ ගිවිසුම් වේ.
(4) යුරෝපයේ පැවැති පෘතුගීසි-ලන්දේසි මිත්‍රත්වය තහවුරු කිරීමට අත්සන් කළ ගිවිසුම් වේ.

16.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) පළමුවන රාජසිංහ රජු | A - මහා අස්ථාන කුමරු |
| (ii) දෙවන රාජසිංහ රජු | B - කන්නසාමි |
| (iii) හයවන බුවනෙකබාහු රජු | C - ටිකිරි කුමරු |
| (iv) ශ්‍රී වික්‍රම රාජසිංහ රජු | D - මුත්තුසාමි |
| | E - සපුමල් කුමරු |
| | F - අම්බුලුගල කුමරු |

විවිධ පාලන යුගවල රාජ්‍යත්වයට පත් වූ රජවරුන් කිහිපදෙනකු ඉහත I තීරුවේ ද, ඔවුන් රාජ්‍යත්වයට පත්වීමට පෙර භාවිත කළ නම් II තීරුවේ ද දැක්වේ. I තීරුව අනුව II තීරුව සැකසූ විට දැක්වෙන නිවැරදි පිළිතුර තෝරන්න.
(1) CAEB (2) ACBF (3) ACED (4) CEAB

17.
- නායක්කර්වරුන්ට විරුද්ධ උඩරට රදළ ප්‍රධානීන්ගේ නායකත්වය දැරීම
- කන්නසාමි කුමරු උඩරට රාජ්‍යත්වයට පත් කිරීම
- ශ්‍රී වික්‍රම රාජසිංහ රජු බලයෙන් පහ කිරීමට ඉංග්‍රීසින්ගේ සහාය පැතීම

ඉහත ප්‍රකාශ හා සම්බන්ධ වන උඩරට රදළ ප්‍රධානියා කවරෙක් ද?
(1) පිළිමතලාවේ මහ අදිකාරම්
(2) කැප්පෙටිපොල දිසාව
(3) මොල්ලිගොඩ දිසාව
(4) ඇහැලේපොල මහ අදිකාරම්

18. ක්‍රි.ව. 1829 දී කෝල්බෲක්-කැමරන් කොමිසම ලංකාවට එවීමේ අරමුණ වූයේ
   (1) එකල එගාවේ යෙදුණු යුරෝපීය ජාතිකයන්ගේ ඉල්ලීම් ඉටු කිරීම සඳහා ය.
   (2) මෙරට පාලනය කළ ආණ්ඩුකාරවරුන්ගේ ඉල්ලීම් පිළිබඳ විමසා බැලීමට ය.
   (3) ලංකාවේ පරිපාලන හා ආර්ථික වියදම් ඉහළ යාම පිළිබඳ සොයා බැලීමට ය.
   (4) යටත් විජිතයන්ට ස්ථිර ආණ්ඩුක්‍රමයක් නිර්දේශ කිරීම සඳහා ය.

19. ක්‍රි.ව. 1865 ශ්‍රී ලංකාවේ අධ්‍යාපනය දියුණු කිරීමේ අරමුණින් පිහිටුවන ලද මෝර්ගන් කමිටුවේ යෝජනාවක ප්‍රතිඵලයක් වන්නේ
   (1) නිදහස් අධ්‍යාපන පනත නීතිගත වීමයි.
   (2) අධ්‍යාපන මාධ්‍යය මව් බස ලෙස පිළිගෙන ක්‍රියාත්මක කිරීමයි.
   (3) පාසල් සිසුන් සඳහා දිවා ආහාර ලබා දීමේ වැඩ පිළිවෙලක් ක්‍රියාත්මක කිරීමයි.
   (4) අධ්‍යාපන පරිපාලනය සඳහා ප්‍රසිද්ධ ඉගැන්වීම් දෙපාර්තමේන්තුවක් පිහිටුවීමයි.

20. සෝල්බරි ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ යටතේ විධායක කටයුතු පැවරුණේ
   (1) බ්‍රිතාන්‍ය මහ රැජින වෙනුවෙන් පෙනී සිටි අග්‍රාණ්ඩුකාරවරයාට ය.
   (2) නියෝජිත මන්ත්‍රී මණ්ඩලයට ය.
   (3) අගමැති ප්‍රධාන කැබිනට් මණ්ඩලයට ය.
   (4) සෙනෙට් සභාව හෙවත් උත්තර මන්ත්‍රී මණ්ඩලයට ය.

21. ආණ්ඩුකාරයා සතුවූ අසීමිත බලතල අඩුකිරීමේ අරමුණ ඇතිව පළමුවරට ව්‍යවස්ථාදායක හා විධායක මණ්ඩලයක් පිහිටුවන ලද්දේ මින් කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් යටතේ ද?
   (1) කෝල්බෲක් (2) කෲව්-මැකලම් (3) ඩොනමෝර් (4) සෝල්බරි

22. කම්කරුවන්ගේ සේවා තත්ත්වය දියුණු කිරීම හා වැඩි වැටුපක් ලබා ගැනීම සඳහා නාගරික කම්කරුවන් මෙහෙයවමින් ඔවුන්ගේ නායකත්වය දැරූ පුද්ගලයා
   (1) එන්.එම්. පෙරේරා මහතා ය. (2) ඒ.ඊ. ගුණසිංහ මහතා ය.
   (3) එස්.ඒ. වික්‍රමසිංහ මහතා ය. (4) නටේසර් අයියර් මහතා ය.

23. ජනතාව සෘජුව ම ව්‍යවස්ථා සම්පාදනයට සහභාගී වන අවස්ථාවක් දක්නට ලැබෙනුයේ
   (1) මහමැතිවරණයකදී ය. (2) පළාත් සභා මැතිවරණයකදී ය.
   (3) ජනමත විචාරණයකදී ය. (4) ප්‍රාදේශීය සභා මැතිවරණයකදී ය.

24. ආර්ය කණ්ඩායම් මධ්‍යම ආසියාවේ සිට ඉන්දියාවට සංක්‍රමණය වූ බව ඉතිහාසඥයන්ගේ පොදු පිළිගැනීමයි. මොවුන් ඉන්දියාවට සංක්‍රමණය වීම සඳහා භාවිත කළ දුර්ග මාර්ගය ලෙස සැලකෙන්නේ
   (1) සිම්ලා ය. (2) ඛයිබර් ය. (3) බෝලාන් ය. (4) මක්‍රාන් ය.

25. ඉන්දියාවේ සොළොස් මහ ජනපදවලින් වැඩි කොටසක් ව්‍යාප්ත වී තිබුණේ කවර ගංගා නිම්නයක් ආශ්‍රිතව ද?
   (1) සින්දු ගඟ (2) නර්මදා ගඟ (3) ගංගානම් ගඟ (4) ක්‍රිෂ්ණා-තුංගභද්‍රා ගඟ

26. මෝගල් වාස්තු විද්‍යාවේ හා කලාවේ ශ්‍රේෂ්ඨතම නිර්මාණය ලෙස සැලකිය හැක්කේ
   (1) අග්‍රාහි රතු බලකොටුවයි. (2) ටජ්මහල් මන්දිරයයි.
   (3) කුතුබ්මිනාර් කුළුණයි. (4) දිල්ලියේ උල්-ඉස්ලාම් පල්ලියයි.

27. සෑම රාජ්‍ය නිලධාරියකු ම තම තරාතිරම අනුව හමුද නිලධාරියකු බවට පත් කිරීමේ වැඩ පිළිවෙළක් හඳුන්වා දුන් මෝගල් පාලකයා වන්නේ,
   (1) බාබුර් ය. (2) හුමායුන් ය. (3) ජහන්ගීර් ය. (4) මහා අක්බාර් ය.

28. බ්‍රිතාන්‍යයන්ගෙන් ඉන්දියාව නිදහස් කර ගැනීමේදී අවි බලය යෙදිය යුතුය යන අදහස ක්‍රියාත්මක කිරීම සඳහා ජපානයේ ආධාර ලබා ගැනීමට උත්සාහ කළ ඉන්දියානු ජාතික කොන්ග්‍රසයේ ප්‍රගතිශීලී පිළෙහි නායකයකු ලෙස සැලකෙන්නේ
   (1) බාල් ගංගාධාර් තිලක් මහතා ය. (2) සුභාෂ් චන්ද්‍රබෝස් මහතා ය.
   (3) සුරේන්ද්‍රනාත් බැනර්ජි මහතා ය. (4) ලාලා ලජ්පත් රායි මහතා ය.

29. ඉන්දියාවේ බ්‍රිතාන්‍ය පාලනය පිටු දැකීම සඳහා මහත්මා ගාන්ධිතුමා ආරම්භ කළ ප්‍රබලතම ක්‍රියාමාර්ගය වූයේ
   (1) සහයෝගිතා වර්ජන ව්‍යාපාරයයි. (2) 'ඉන්දියාවෙන් ඉවත් වෙනු' ව්‍යාපාරයයි.
   (3) සත්‍යග්‍රහ ව්‍යාපාරයයි. (4) සිවිල් නීති කඩ කිරීමේ ව්‍යාපාරයයි.

30. A - ඉඩම හා බැඳුණු ආර්ථික රටාව
   B - රජු වෙත සියලු බලතල කේන්ද්‍රගත වූ පාලන ක්‍රමය
   C - රජුට ස්ථිර යුද්ධ හමුදවක් තිබීම
   D - බලය විකේන්ද්‍රගතව තිබීම
   E - ප්‍රාදේශීය පාලකයන් සතුව පෞද්ගලික හමුද තිබීම

   ඉහත A සිට E දක්වා වූ කරුණු අතුරෙන් ජාතික රාජ්‍යයක ලක්ෂණ පමණක් වන්නේ
   (1) A හා B ය. (2) B හා C ය. (3) C හා D ය. (4) A හා E ය.

31. යුරෝපයේ පුනරුදය ඇතිවීමට බල පෑ ආසන්න ම හේතුව සේ සැලකෙන්නේ
(1) මානව හිතවාදී පාප්වහන්සේ නමක වූ පස්වන නිකලස් පාප්තුමා වතිකානුවේ පුස්තකාලය ගොඩ නැගීම ය.
(2) ඉතාලියේ බිහි වූ විශ්වවිද්‍යාල මගින් ශාස්ත්‍රීය නවෝදයට අවශ්‍ය බුද්ධිමය පරිසරය ගොඩ නැගීම ය.
(3) ක්‍රි.ව. 1453 දී ඔටෝමන් තුර්කිවරුන් විසින් නැගෙනහිර රෝම අධිරාජ්‍යයේ අගනුවර වූ කොන්ස්තන්තිනෝපලය අල්ලා ගැනීම ය.
(4) දෙළොස්වන සියවස පමණ සිට යුරෝපයේ වෙළෙඳාම වර්ධනය වීම ය.

32. පුනරුද සමයේ චිත්‍ර ශිල්පියකු පමණක් නොව සංගීතඥයකු, ප්‍රායෝගික ඉංජිනේරුවරයකු මෙන්ම විද්‍යාඥයකු ද වශයෙන් ප්‍රසිද්ධියට පත් වූ පුද්ගලයා
(1) ලියනාඩෝ ඩා වින්චි ය. (2) මයිකල් ආංජිලෝ ය.
(3) රෆායල් ය. (4) පෙට්රාක් ය.

33. පහළොස්වන සියවසේ සිට ම විවිධ රටවල් දේශ ගවේෂණ කටයුතුවල නිරත වූ අතර එම රටවල් අතුරෙන් බටහිර ඉන්දීය දූපත් හා ඇමෙරිකාව සොයා ගැනීමේ ගෞරවය හිමි වන්නේ
(1) පෘතුගාලයට ය. (2) ස්පාඤ්ඤයට ය. (3) ඕලන්දයට ය. (4) ප්‍රංශයට ය.

34.

| I තීරුව | II තීරුව |
|---|---|
| (i) උපයෝගිතාවාදය | A - සියල්ලට ම වඩා මුදල් වැදගත් ය. |
| (ii) මානවවාදය | B - ලාභය පදනම් කොට ආර්ථිකය මෙහෙයවීම |
| (iii) වාණිජවාදය | C - වැඩි ම ප්‍රයෝජනවත් දේ උසස් කොට සැලකීම |
| | D - සියල්ලට ම වඩා මිනිසා වැදගත් ය. |

යුරෝපයේ විවිධ අවස්ථාවන්හි ඇති වූ මතවාද කිහිපයක් ඉහත I තීරුවේ ද, ඒ හා සම්බන්ධ ප්‍රකාශ II තීරුවේ ද දක්වේ. I තීරුව අනුව II තීරුව සැකසූ විට ගැළපෙන පිළිතුර තෝරන්න.
(1) CDA (2) CBD (3) BCD (4) ADC

35. පොදු අවශ්‍යතා ඉටු කර ගැනීමේ අරමුණින් කලාපීය වශයෙන් සංවිධාන ගොඩ නගා ගැනීම දෙවන ලෝක මහා සංග්‍රාමයෙන් පසුව දක්නට ලැබෙන විශේෂ ලක්ෂණයකි. නිදහස ලැබූ බ්‍රිතාන්‍ය යටත් විජිත ඉදිරි කාලයේදී සහයෝගයෙන් කටයුතු කිරීමේ අරමුණින් ගොඩනගන ලද සංවිධානය
(1) සාර්ක් සංවිධානයයි. (2) පොදු රාජ්‍ය මණ්ඩලයයි.
(3) නොබැඳි ජාතීන්ගේ සංවිධානයයි. (4) ආසියාන් සංවිධානයයි.

36. දෙවන ලෝක යුද්ධයෙන් පසු විවිධ රටවල් අතර වූ අර්බුද වළක්වා ගැනීමට එක්සත් ජාතීන් සමත් වුව ද ඔවුන්ගේ ඇතැම් ප්‍රයත්න අසාර්ථක වූ බවට නිදසුනක් ලෙස දක්විය හැක්කේ
(1) කොරියානු අර්බුදයයි. (2) ගල්ෆ් අර්බුදයයි.
(3) කම්පුචියානු අර්බුදයයි. (4) රුවන්ඩා අර්බුදයයි.

37. දෙවන ලෝක යුද්ධයෙන් පසු යටත් විජිතවලට නිදහස ලබා දීම සඳහා ඇමෙරිකා එක්සත් ජනපදය උනන්දු වූයේ
(1) එම රටවල ප්‍රජාතන්ත්‍රවාදී නිදහස තහවුරු කිරීමට ය.
(2) එම රටවල තිබූ සම්පත්වලින් ප්‍රයෝජන ලබා ගැනීමට ය.
(3) යුරෝපයේ යටත් විජිත හිමි බලවතුන්ගේ බලය උපක්‍රමශීලීව බිඳ දමා තමන්ට ලෝක දේශපාලනයේ ප්‍රමුඛයා වීමට ය.
(4) යුද්ධයෙන් පීඩා විඳි යටත් විජිතවල ආර්ථික සංවර්ධනය ඇති කිරීමට ආධාර උපකාර කර ඒවායේ පක්ෂපාතිත්වය තමන් වෙත ලබා ගැනීමට ය.

38. ක්‍රි.ව. 1948 දී සම්මත කර ගන්නා ලද 'බැල්ෆර් ප්‍රකාශනය' මගින් ලෝක දේශපාලනයේ ඇති වූ සිදුවීම වන්නේ
(1) කොරියාව දෙකඩ වීමයි. (2) ජර්මනිය දෙකඩ වීමයි.
(3) ඊශ්‍රායලය බිහිවීමයි. (4) රුසියාවේ සාර් පාලනය අවසන් වීමයි.

39.
- මහ ලේකම් පත් කිරීම
- ජාත්‍යන්තර අධිකරණයේ විනිශ්චයකරුවන් පත් කිරීම
- එක්සත් ජාතීන්ගේ සංවිධානයට නව සාමාජිකයන් බඳවා ගැනීම

ඉහත සඳහන් කාර්යයන් අයත් වන්නේ එක්සත් ජාතීන්ගේ සංවිධානයේ කිනම් ආයතනයකට ද?
(1) මහා මණ්ඩලය (2) ආරක්ෂක මණ්ඩලය
(3) ආර්ථික හා සමාජීය කටයුතු මණ්ඩලය (4) ජාත්‍යන්තර අධිකරණය

40. සෝවියට් රුසියාව බිඳ වැටීම නිසා ඇති වූ ප්‍රතිඵල අතුරෙන් ලෝකයට වඩාත් ම අහිතකර බලපෑම වූයේ
(1) වෝර්සෝ සංවිධානය විසුරුවා හැරීම ය. (2) සමාජවාදී බල කඳවුර බිඳ වැටීම ය.
(3) සමාජවාදී රටවලට ආධාර නොලැබී යාම ය. (4) ලෝක බල තුලනය අහෝසි වීම ය.

